02221

**2560 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2015 (2016)**

**(02) බෞද්ධ විනය මාර්ගය හා පාලි භාෂා පරිචය**

**S 2**

ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.

**II කොටස**

2. (i) බුදුරජාණන් වහන්සේගේ ප්‍රථම ශ්‍රාවක සංඝයා අතුරින් සිව් නමක් නම් කරන්න. (ලකුණු 04 යි)
(ii) ප්‍රාරම්භක භික්ෂු පිරිස සියලුදෙනාම පාහේ ධර්මය සොයාගිය "කිං කුසල ගවේසීහු " වූහ. මේ කියමන කෙටියෙන් පහදා දෙන්න. (ලකුණු 06 යි)
(iii) එම ප්‍රාරම්භ භික්ෂු පිරිස තුළින් වත්මන් නවක භික්ෂුවකට ගතහැකි ආදර්ශ දෙකක් විස්තර කරන්න. (ලකුණු 08 යි)

3. (i) සිගාලෝවාද සූත්‍රයෙහි දැක්වෙන සතර කර්මක්ලේශයන් නම් කරන්න. (ලකුණු 04 යි)
(ii) සතර කර්මක්ලේශ මගින් පුද්ගල සන්තානයෙහි රාගාදී කෙලෙස් දහම් වැඩෙන අයුරු කෙටියෙන් දක්වන්න. (ලකුණු 06 යි)
(iii) එම සතර කර්මක්ලේශ දුරු වූ සමාජයක සාමය හා සමගිය තහවුරුවන ආකාරය අගය කරන්න. (ලකුණු 08 යි)

4. (i) සත්තිගුම්බ ජාතකය දේශනා කිරීමට හේතු වූ කරුණ (වර්තමාන කථාව) කෙටියෙන් ලියන්න. (ලකුණු 04 යි)
(ii) පුෂ්පක ගිරවා පඤ්චාල රජුට ආගන්තුක සත්කාර කළ ආකාරය අගය කරන්න. (ලකුණු 06 යි)
(iii) ආරයට වඩා පරිසරය පුද්ගල චර්යාවන් කෙරෙහි බලපාන ආකාරය සත්තිගුම්බ ජාතකය ඇසුරින් පහදා දෙන්න. (ලකුණු 08 යි)

5. (i) සිංහලට නගන්න.
(අ) ඒකමන්තං ඨිතා ඛො සා දේවතා භගවන්තං ගාථාය අජ්ඣභාසි.
(ආ) පූජාච පූජනීයානං - ඒතං මංගලමුත්තමං.
(ඉ) මාතාපිතා දිසා පුබ්බා - ආචරියා දක්ඛිණා දිසා.
(ඊ) සුසීලං සීවලී ථෙරං - නමාමි සිරසාදරං.
(උ) සුසුඛං වත ජීවාම - වෙරිනේසු අවෙරිනො.
(ලකුණු 08 යි)

(ii) මෙම වාක්‍ය පාලියට නගන්න.
(අ) බොහෝ දෙවියෝ ද මංගල කරුණු ගැන සිතූහ.
(ආ) ආනන්ද තෙරුන් වහන්සේ බුදුරජාණන් වහන්සේ සමීපයෙහි සිටිති.
(ඉ) දුටුගැමුණු රජතුමා භික්ෂු සංඝයාට මහ දන් දුන්නේ ය.
(ඊ) මෙම මල්වලින් බුදුරජාණන් වහන්සේට පූජා කරමි.
(උ) ඒකාන්තයෙන්ම සියලු සංස්කාර අනිත්‍යයි.
(ලකුණු 10 යි)

6. (i) මෙම පාඨය සිංහලට නගන්න.
"එවං මෙ සුතං ඒකං සමයං භගවා රාජගහෙ විහරති වෙළුවනෙ කලන්දකනිවාපෙ තෙන ඛො පන සමයෙන සිගාලකො ගහපති පුත්තො කාලස්සෙව වුට්ඨාය රාජගහා නික්ඛමිත්වා අල්ලවත්ථො අල්ලකේසො පඤ්ජලිකො පුථු දිසා නමස්සති. පුරත්ථිමං දිසං, දක්ඛිණං දිසං පච්ඡිමං දිසං, උත්තරං දිසං, හෙට්ඨිමං දිසං, උපරිමං දිසං" (ලකුණු 08 යි)
(ii) සිගාලොවාද සූත්‍රයෙහි සඳහන් මව් පිය දූ දරු යුතුකම් හා වගකීම් ඉටුවන කල්හි මානව සමාජය කෙතරම් ප්‍රසන්නවේදැ'යි පෙන්වා දෙන්න. (ලකුණු 10 යි)

7. (i) මෙම පාඨය සිංහලට නගන්න.
"සත්ථා පන තං භික්ඛුං පක්කොසාපෙත්වා "සච්චං කිර ත්වං භික්ඛු ගිහි පොසෙසී'ති" පුච්ඡිත්වා "සච්චං භන්තෙ'ති" වුත්තෙ "කිං තෙ හොන්ති'ති" "මාතා පිතරො මෙ භන්තෙ'ති" වුත්තෙ "සාධු භික්ඛු, පොරාණක පණ්ඩිතා තිරච්ඡානා හුත්වා සුවයොනියං නිබ්බත්තිත්වා'පි ජිණ්ණකෙ මාතාපිතරො ............... පොසෙසුං"ති වත්වා අතීතං ආහරි." (ලකුණු 08 යි)
(ii) මිනිසත් බව අර්ථවත් කර ගැනීම සඳහා බෝසත් ගිරා රජු තුළින් ලබාගත හැකි ආදර්ශ තුනක් සාලිකේදාර ජාතක කථාව ඇසුරින් පහදා දෙන්න. (ලකුණු 10 යි)

***